# 1. 1. 10.

# සතිපට්ඨානසුත්තං

1. ඒවං මෙ සුතං: ඒකං සමයං භගවා කුරූසු විහරති කම්මාසදම්මං නාම කුරූනං නිගමො. තත්‍ර ඛො භගවා භික්ඛූ ආමන්තෙසි: භික්ඛවොති. භදන්තෙති තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං. භගවා එතදවොච:

2. ඒකායනො අයං භික්ඛවෙ මග්ගො සත්තානං විසුද්ධියා සොකපරිද්දවානං සමතික්කමාය දුක්ඛදොමනස්සානං අත්ථඞ්ගමාය ඤායස්ස අධිගමාය නිබ්බානස්ස සච්ඡිකිරියාය - යදිදං චත්තාරො සතිපට්ඨානා. කතමෙ චත්තාරො ?

ඉධ භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං. වෙදනාසු වෙදනානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං. චිත්තෙ චිත්තානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං. ධම්මෙසු ධම්මානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං.

[උද්දෙසවාරො.]

## (1. කායානුපස්සනාසතිපට්ඨානං:)

කථඤ්ච භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති ?

1. ඉධ භික්ඛවෙ භික්ඛු අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො වා සුඤ්ඤාගාරගතො වා නිසීදති පල්ලඞ්කං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා. සො සතොව අස්සසති, සතො පස්සසති. දීඝං වා අස්සසන්තො දීඝං අස්සසාමීති පජානාති. දීඝං වා පස්සසන්තො දීඝං පස්සසාමීති පජානාති. රස්සං වා අස්සසන්තො රස්සං අස්සසාමීති පජානාති. රස්සං වා පස්සසන්තො රස්සං පස්සසාමීති පජානාති. සබ්බකායපටිසංවෙදී අස්සසිස්සාමීති සික්ඛති. සබ්බකායපටිසංවෙදී පස්සසිස්සාමීති සික්ඛති. පස්සම්භයං කායසඞ්ඛාරං අස්සසිස්සාමීති සික්ඛති. පස්සම්භයං කායසඞ්ඛාරං පස්සසිස්සාමීති සික්ඛති.

# 1. 1. 10.

# සතිපට්ඨාන සූත්‍රය

1. **මා** විසින් මෙසේ අසන ලදී: එක් සමයෙක භාග්‍යවතුන් වහන්සේ **කුරු** ජනපදයෙහි **කල්මාෂදම්‍ය** නම් වූ කුරුරටියන්ගේ නියම් ගමෙක වැඩ වසන සේක. එකල්හි භාග්‍යවතුන් වහන්සේ 'මහණෙනි'යි භික්ෂූන් ඇමතූ සේක. 'පින්වතුන් වහන්සැ'යි ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක:

2. මහණෙනි, සත්ත්වයන්ගේ පිරිසුදු බව පිණිස ශොකපරිදෙවයන්ගේ ඉක්මවීම පිණිස දුක් දොම්නස් නැති කිරීම පිණිස ආර්‍ය්‍යඅෂ්ටාඞ්ගිකමාර්ගයට පැමිණීම පිණිස, නිවන් සාක්ෂාත් කිරීම පිණිස මේ එකායනමාර්ගයෙක් වෙයි. එනම් සතර සතිපට්ඨානයෝ යි. කවර සතරෙක යත්:

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ (1) කෙලෙස් තවන වැර ඇති ව සම්‍යක් ප්‍රඥා ඇති ව, සිහි ඇති ව කායසඞ්ඛ්‍යාතලොකයෙහි අභිධ්‍යාව හා දෞර්මනස්‍ය සන්සිඳුවා ගෙන රූපකයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කෙරේ. (2) කෙලෙස් තවන වැර ඇති ව සම්‍යක් ප්‍රඥා ඇති ව සිහි ඇති ව වෙදනාසඞ්ඛ්‍යාතලොකයෙහි අභිධ්‍යාව හා දෞර්මනස්‍ය සන්සිඳුවා ගෙන වෙදනාවන්හි වෙදනාව නුවණින් බලන සුලු ව වාසය කෙරේ. (3) කෙලෙස් තවන වැර ඇති ව සම්‍යක් ප්‍රඥා ඇති ව සිහි ඇති ව චිත්තසඞ්ඛ්‍යාත ලොකයෙහි අභිධ්‍යාව හා දෞර්මනස්‍ය සන්සිඳුවා ගෙන සිතෙහි සිත නුවණින් බලන සුලුව වාසය කෙරේ. (4) කෙලෙස් තවන වැර ඇති ව සම්‍යක් ප්‍රඥා ඇති ව සිහි ඇති ව ධර්මසඞ්ඛ්‍යාතලොකයෙහි අභිධ්‍යාව හා දෞර්මනස්‍ය සන්සිඳුවා ගෙන ධර්මයෙහි ධර්මයන් නුවණින් බලන සුලු ව වාසය කෙරේ (යනු යි).

[උද්දෙසවාරය නිමියේ ය.]

### (1. කායානුපස්සනාසතිපට්ඨානය:)

මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කෙරේ ද?

1. මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙම අරණ්‍යයකට ගියේ හෝ රුක්මුලකට ගියේ හෝ ශුන්‍යාගාරයකට ගියේ හෝ පලක් බැඳ ශරීරය ඍජු කොට තබා ගෙන සිහිය කර්මස්ථානාභිමුඛ කොට ගෙන හිඳියි. හෙතෙමේ සිහි ඇත්තේ ම ආශ්වාස කරයි. සිහි ඇත්තේ ම ප්‍රශ්වාස කරයි. දීර්ඝ කොට හෝ ආශ්වාස කරන්නේ දීර්ඝ කොට ආශ්වාස කෙරෙමි යි දනියි. දීර්ඝ කොට හෝ ප්‍රශ්වාස කරන්නේ දීර්ඝ කොට ප්‍රශ්වාස කෙරෙමි යි දනියි. හ්‍රස්ව කොට හෝ ආශ්වාස කරන්නේ හ්‍රස්ව කොට ආශ්වාස කෙරෙමි යි දනියි. හ්‍රස්ව කොට හෝ ප්‍රශ්වාස කරන්නේ හ්‍රස්ව කොට ප්‍රශ්වාස කෙරෙමි යි දනියි. සියලු ආශ්වාස ප්‍රශ්වාස කය ප්‍රකට කරන්නේ ආශ්වාස කරන්නෙමි යි හික්මෙයි. සියලු ආශ්වාස ප්‍රශ්වාස කය ප්‍රකට කරන්නේ ප්‍රශ්වාස කරන්නෙමියි හික්මෙයි. (ඖදාරික) ආශ්වාසප්‍රශ්වාස කය සන්හිඳුවමින් ආශ්වාස කරන්නෙමි යි හික්මෙයි. ආශ්වාසප්‍රශ්වාස කය සන්හිඳුවමින් ප්‍රශ්වාස කරන්නෙමි යි හික්මෙයි.

සෙය්‍යථාපි භික්ඛවෙ දක්ඛො භමකාරො වා භමකාරන්තෙවාසී වා දීඝං වා අඤ්ඡන්තො දීඝං අඤ්ඡාමීති පජානාති, රස්සං වා අඤ්ඡන්තො රස්සං අඤ්ඡාමීති පජානාති, එවමෙව ඛො භික්ඛවෙ භික්ඛු දීඝං වා අස්සසන්තො දීඝං අස්සසාමීති පජානාති. -පෙ- පස්සම්භයං කායසඞ්ඛාරං පස්සසිස්සාමීති සික්ඛති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති. වයධම්මානුපස්සී වා කායස්මිං විහරති. සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති. අත්ථි කායොති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

### [1. ආනාපානපබ්බං.]

2. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ගච්ඡන්තො වා ගච්ඡාමීති පජානාති. ඨිතො වා ඨිතොම්හීති පජානාති. නිසින්නො වා නිසින්නොම්හීති පජානාති. සයානො වා සයානොම්හීති පජානාති. යථා යථා වා පනස්ස කායො පණිහිතො හොති තථා තථා නං පජානාති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති. වයධම්මානුපස්සී වා කායස්මිං විහරති. සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති. අත්ථි කායොති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

### [2. ඉරියාපථපබ්බං.]

3. පුන ච පරං භික්ඛවෙ භික්ඛු අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති. ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති. සම්මිඤ්ජිතෙ පසාරිතෙ සම්පජානකාරී හොති. සඞ්ඝාටිපත්තචීවරධාරණෙ සම්පජානකාරී හොති. අසිතෙ පීතෙ ඛායිතෙ සායිතෙ සම්පජානකාරී හොති. උච්චාරපස්සාවකම්මෙ සම්පජානකාරී හොති. ගතෙ ඨිතෙ නිසින්නෙ සුත්තෙ ජාගරිතෙ භාසිතෙ තුණ්හීභාවෙ සම්පජානකාරී හොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

### [3. සම්පජඤ්ඤපබ්බං.]

මහණෙනි, යම්සේ දක්‍ෂ වූ ලියන වඩුවෙක් හෝ ලියන වඩුවකුගේ අතවැස්සෙක් හෝ දීඝී කොට අදින්නේ දීඝී කොට අදින්නෙමි'යි දන ගනී ද, හ්‍රස්ව කොට හෝ අදින්නේ හ්‍රස්ව කොට අදින්නෙමි'යි දන ගනී ද, මහණෙනි, එපරිද්දෙන් ම මහණ තෙම දීඝී කොට ආශ්වාස කරන්නේ දීඝී කොට ආශ්වාස කෙරෙමියි දන ගනී... ආශ්වාස ප්‍රශ්වාසයන් සන්හිඳුවමින් ප්‍රශ්වාස කරන්නෙමියි හික්මෙයි. මෙසේ තමාගේ ආශ්වාසප්‍රශ්වාස කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කරයි. මෙරමාගේ ආශ්වාස ප්‍රශ්වාසකයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කරයි. තමාගේත් මෙරමාගේත් ආශ්වාසප්‍රශ්වාසකයෙහි හෝ කය නුවණින් බලන සුලුව වාසය කරයි. ආශ්වාසප්‍රශ්වාසකයෙහි උත්පත්තිය නුවණින් බලන සුලු ව හෝ වාසය කරයි. ආශ්වාසප්‍රශ්වාසකයෙහි විනාශය නුවණින් බලන සුලු ව හෝ වාසය කරයි. ආශ්වාසප්‍රශ්වාසකයෙහි උත්පත්තිය හා විනාශය නුවණින් බලන සුලු ව හෝ වාසය කරයි. ඔහුට 'ආශ්වාසප්‍රශ්වාසකය පමණක් ඇතැ'යි සිහි එළඹ සිටියේ වෙයි. එය හුදෙක් (මතුමත්තෙහි) නැණ වැඩීම පිණිස සිහි වැඩීම පිණිස වෙයි. තෘෂ්ණාදෘෂ්ටි ඇසුරු නො කෙළේ වාසය කරයි. සකන්ධ ලොකයෙහි රූපාදි කිසිවක් මමය මාගේ ය යි නො ගනියි. මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව (කම්ටහන් වඩමින්) වාසය කරයි.

[1. ආනාපාන පබ්බ යි.]

2. තවද මහණෙනි, මහණ තෙමේ යන්නේ හෝ යමි යි සම්‍යක්ප්‍රඥයෙන් දන ගනියි. සිටියේ හෝ සිටියෙමි වෙමියි දන ගනියි. හුන්නේ හෝ හුන්නෙමි වෙමියි දන ගනියි. හෝනේ හෝ හෝනෙමි වෙමියි දන ගනියි. ඔහුගේ කය යම් යම් සේ පිහිටියේ ද එසේ එසේ එය දනගනියි. මෙසේ තමාගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කෙරෙයි. අනුන්ගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කෙරෙයි. තමාගේ හෝ පරාගේ හෝ කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කෙරෙයි. කයෙහි හටගැන්ම බලන සුලු ව හෝ වාසය කෙරෙයි. කයෙහි විනාශය නුවණින් බලන සුලු ව හෝ වාසය කෙරෙයි. කයෙහි හටගැනීම හා විනාශය නුවණින් බලන සුලු ව හෝ වාසය කෙරෙයි 'ඉරියවු කය පමණක් ඇතැ'යි ඔහුගේ සිහිය හුදෙක් ඥානය වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි ඇසුරු නො කෙළේ වෙසෙයි. ලොකයෙහි කිසිවක් මම ය මාගේ යයි නො ගනියි. මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි.

[2. ඉරියාපථපබ්බ යි.]

3. තවද මහණෙනි, මහණ තෙමේ පෙරට යාමෙහි පෙරළා ඊමෙහි නුවණින් දන කරන සුලු වෙයි. ඉදිරි බැලීමෙහි අනුදිග් බැලී- මෙහි නුවණින් දන කරන සුලු වෙයි. අත් පා හැකිළීමෙහි අත් පා දිගුකිරී- මෙහි නුවණින් දන කරන සුලු වෙයි. සඟළ, පා, සිවුරු දරීමෙහි නුවණින් දන කරන සුලු වෙයි. කිදීමෙහි පීමෙහි · කෑමෙහි රස විඳීමෙහි නුවණින් දන කරන සුලු වෙයි. මලමු පහකිරීමෙහි නුවණින් දන කරන සුලු වෙයි. යාමෙහි සිටීමෙහි හිඳීමෙහි නිදීමෙහි නිදිවැරීමෙහි බිණීමෙහි නිහඬ වීමෙහි නුවණින් .දන කරන සුලු වෙයි. මෙසේ තමාගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වෙසෙයි... මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි.

[3. සම්පජඤ්ඤපබ්බ යි.]

4. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං උද්ධං පාදතලා අධො කෙසමත්ථකා තචපරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති: අත්ථි ඉමස්මිං කායෙ කෙසා ලොමා නඛා දන්තා තචො මංසං නහාරු අට්ඨී අට්ඨිමිඤ්ජං[1] වක්කං හදයං යකනං කිලොමකං පිහකං පප්ඵාසං අන්තං අන්තගුණං උදරියං කරීසං පිත්තං සෙම්හං පුබ්බො ලොහිතං සෙදො මෙදො අස්සු වසා ඛෙළො සිඞ්ඝාණිකා ලසිකා මුත්තන්ති.

සෙය්‍යථාපි භික්ඛවෙ උභතොමුඛා මූතොළි[2] පූරා නානාවිහිතස්ස ධඤ්ඤස්ස-සෙය්‍යථීදං: සාලීනං වීහීනං මුග්ගානං මාසානං තිලානං තණ්ඩුලානං, තමෙනං චක්ඛුමා පුරිසො මුඤ්චිත්වා පච්චවෙක්ඛෙය්‍ය: ඉමෙ සාලී ඉමෙ වීහී ඉමෙ මුග්ගා ඉමෙ මාසා ඉමෙ තිලා ඉමෙ තණ්ඩුලාති, එවමෙව ඛො භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං උද්ධං පාදතලා අධො කෙසමත්ථකා තචපරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති: අත්ථි ඉමස්මිං කායෙ කෙසා ලොමා නඛා දන්තා තචො මංසං නහාරු අට්ඨී අට්ඨිමිඤ්ජං වක්කං හදයං යකනං කිලොමකං පිහකං පප්ඵාසං අන්තං අන්තගුණං උදරියං කරීසං පිත්තං සෙම්හං පුබ්බො ලොහිතං සෙදො මෙදො අස්සු වසා ඛෙළො සිඞ්ඝාණිකා ලසිකා මුත්තන්ති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

[4. පටිකූලමනසිකාරපබ්බං.]

5. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං යථාඨිතං යථාපණිහිතං ධාතුසො පච්චවෙක්ඛති: අත්ථි ඉමස්මිං කායෙ පඨවීධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූති. සෙය්‍යථාපි භික්ඛවෙ දක්ඛො ගොඝාතකො වා ගොඝාතකන්තෙවාසී වා ගාවිං වධිත්වා චාතුම්මහාපථෙ බිලසො පටිවිභජිත්වා නිසින්නො අස්ස, එවමෙව ඛො භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං යථාඨිතං යථාපණිහිතං ධාතුසො පච්චවෙක්ඛති: අත්ථි ඉමස්මිං කායෙ පඨවීධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

(5. ධාතුමනසිකාරපබ්බං.)

[නවසිවථිකාපබ්බං:]

6. පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සිවථිකාය ඡඩ්ඩිතං එකාහමතං වා ද්වීහමතං වා තීහමතං වා උද්ධුමාතකං විනීලකං විපුබ්බකජාතං, සො ඉමමෙව කායං උපසංහරති: 'අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එවං අනතීතො'ති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති. වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති. අත්ථිකායොති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (1)

1. අට්ඨිමිඤ්ජා, මජ්ඣු. 2. මුතොළි, කම්බො. මුතොළී, PTS

4. තවද මහණෙනි, මහණ තෙම පාදතලයෙන් උඩ කෙසඟින් යට සම හිම් කොට නානාවිධ අශුචියෙන් පිරුණු මේ ශරීරය ප්‍රත්‍යවෙක්ෂා කරයි: මේ ශරීරයෙහි කෙස් ඇත. මේ ශරීරයෙහි ලොම් ඇත. නිය, දත්, සම්, මස් පිඩු, නහර, ඇට, ඇටමිදුලු, වකුගඩු, හදමස්, අක්මාව, දලබුව, බඩදිව, පෙණහැලි, බඩවැල, අතුණු බහන, නො පැසුණු අහර, පැසුණු අහර (අසුචි), පිත්, සෙම්, සැරව, ලේ, ඩහදිය, මේදතෙල්, කඳුළු, වුරුණුතෙල්, කෙල, සොටු, සඳමිදුලු මූ, ඇතැ යි.

මහණෙනි, දෙපස මුව ඇති මල්ලක් ඇල්, වී, මුං මෑ, තල, සහල් යන නන්වැදෑරුම් ධාන්‍යයෙන් පිරුණේ වේ ද, ඇස් පෙණෙන පුරුෂයෙක් ඒ මේ මල්ල ලිහා මේ 'ඇල්ය, මේ වී ය, මේ මුංය, මේ මෑය, මේ තලය, මේ හාල්ය' යි යම්සේ ප්‍රත්‍යවෙක්ෂා කරන්නේ ද, මහණෙනි, එපරිද්දෙන් ම මහණ තෙම පාදතලයෙන් උඩ කෙසඟින් යට සම හිම් කොට නානාවිධ අශුචියෙන් පිරුණු මේ ශරීරය ප්‍රත්‍යවෙක්ෂා කරයි: මේ ශරීරයෙහි කෙස්, ලොම්, නිය, දත්, සම්, මස්පිඩු, නහර, ඇට ඇටමිදුලු, වකුගඩු, හදමස, අක්මා, දලබුව, බඩදිව, පෙණහැලි, බඩවැල, අතුණු-බහන, නො පැසුණු අහර, අශුචි, පිත, සෙම, සැරව, ලේ, ඩහදිය, මේද-තෙල්, කඳුළු, වසාතෙල්, කෙල, සොටු, සඳමිදුලු, මූ ඇතැයි. මෙසේ තමාගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කරයි.... මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි.

[4. පටික්කූලමනසිකාරපබ්බ යි.]

5. තවද මහණෙනි, මහණ තෙම සිටි පරිදි පිහිටි පරිදි මේ කය ම ධාතු වශයෙන් ප්‍රත්‍යවෙක්ෂා කරයි: මේ කයෙහි පඨවිධාතු ඇත. ආපොධාතු, තෙජොධාතු, වායොධාතු ඇතැයි. මහණෙනි, යම්සේ දක්ෂ ගොඝාතකයෙක් හෝ ගොඝාතකයකුගේ අතවැසියෙක් හෝ ගවදෙනක මරා සතර මංසන්ධියෙක කොටස් වශයෙන් වෙන් වෙන් කොට බෙදා හුන්නේ යම්සේ ද, මහණෙනි, එපරිද්දෙන් ම මහණ තෙම සිටි පරිදි පිහිටි පරිදි මේ කය ධාතු වශයෙන් සලකා බලයි. මේ කයෙහි පඨවිධාතු, ආපොධාතු, තෙජොධාතු, වායොධාතු ඇතැයි. මෙසේ තමාගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලු ව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි.

[5. ධාතුමනසිකාරපබ්බ යි.]

(නවසිවථිකාපබ්බය:)

6. තවද මහණෙනි, මහණ තෙම සොහොනෙහි හැරලූ මළ එක් දවස් වූ හෝ මළ දෙ දවස් වූ හෝ තුන් දවස් වූ හෝ ඉදිමුනු නිල් වූ හටගත් පුයා ඇති සිරුරක් යම්සේ දක්නේ ද, හෙතෙම මේ (තමාගේ) ශරීරය ඒ මෘතශරීරය හා එලවා සසඳා බලන්නේ ය: 'මේ ශරීරයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මෙබඳු සවභාවය නො ඉක්ම වූයේ' යි. මෙසේ තමාගේ කයෙහි හෝ කය නුවණින් බලන සුලුව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙම කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි. (1)

7. පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං කාකෙහි වා ඛජ්ජමානං කුලලෙහි වා ඛජ්ජමානං ගිජ්ඣෙහි වා ඛජ්ජමානං සුපාණෙහි වා ඛජ්ජමානං සිගාලෙහි වා ඛජ්ජමානං විවිධෙහි වා පාණකජාතෙහි ඛජ්ජමානං, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්ස් විහරති. (2)

8. පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං අට්ඨිකසඞ්ඛලිකං සමංසලොහිතං නහාරුසම්බන්ධං, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (3)

9. පුනච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍ථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං අට්ඨිකසඞ්ඛලිකං නිම්මංසලොහිතමක්ඛිතං නහාරුසම්බන්ධං, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායෙ කායානුපස්සී විහරති. (4)

10. පුනචපරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං අට්ඨිකසඞ්ඛලිකං අපගතමංසලොහිතං නහාරුසම්බන්ධං, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති (5)

11. පුනචපරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං – අට්ඨිකානි අපගතසම්බන්ධානි දිසා විදිසාසු වික්ඛිත්තානි අඤ්ඤෙන හත්ථට්ඨිකං අඤ්ඤෙන පාදට්ඨිකං අඤ්ඤෙන ජඞ්ඝට්ඨිකං අඤ්ඤෙන ඌරුට්ඨිකං අඤ්ඤෙන කටට්ඨිකං අඤ්ඤෙන පිට්ඨිකණ්ටකං අඤ්ඤෙන සීසකටාහං, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (6)

12. පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං – අට්ඨිකානි සෙතානි සඞ්ඛවණ්ණූපනිභානි, සො ඉමමෙව කායං උපසංහරති: අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතොති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (7)

7. තවද, මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ කවුඩන් විසින් හෝ කනු ලබන උක්සන් විසින් හෝ කනු ලබන ගිජුලිහිණියන් විසින් හෝ කනු ලබන ශුනකයන් විසින් හෝ කනු ලබන සිවලුන් විසින් හෝ කනු ලබන නොයෙක් ප්‍රාණීන් විසින් හෝ කනු ලබන මළ සිරුරක් යම්සේ දක්නේ ද, හෙතෙමේ මෙම කය ඒ කය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාවය ඇත්තේ ය, මෙසේ වන සුලු ය, මෙබඳු සවභාවය නො ඉක්මවූයේ ය.'යි මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කය නුවණින් බලන සුලු ව වාසය කරයි. (2)

8 තවද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ ලේමස් සහිත වූ නහරින් බැඳුණා වූ ඇටසැකිල්ලක් වූ මිනියක් යම්සේ දක්නේ ද, හෙතෙමේ මේ කය එය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වනසුලු ය. මේ සවභාවය නො ඉක්මවූයේ' යි. මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි:... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (3)

9. තවද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ මස් රහිත ලේ තැවරුණු නහරින් බැඳුණු ඇට සැකිල්ලක් වූ මිනියක් යම්සේ දක්නේ ද, හෙ තෙමේ මේ කය එය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය. මේ සවභාවය නො ඉක්මවූයේ ය' යි. මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි:... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (4)

10. තවද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ මස් ලේ නැති නහරින් බැඳුණු ඇට සැකිල්ලක් වූ මිනියක් යම්සේ දක්නේ ද, හෙතෙමේ මේ කය එය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය. මේ සවභාවය නො ඉක්මවූයේ ය' යි. මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි. ...මහණෙනි මෙසේත් මහණතෙම, කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (5)

11. තව ද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ නහර බැඳුම් නැති අන් දෙසෙකින් අත්ඇටය ද අන් දෙසෙකින් පාඇටය ද අන් දෙසෙකින් කෙණ්ඩාඇටය ද අන් දෙසෙකින් කළවාඇටය ද අන් දෙසෙකින් කටිඇටය ද අන් දෙසෙකින් පිටකටුව ද අන් දෙසෙකින් හිස් කබල දැයි දිසානුදිසාවන්හි විසුරුණු ඇටසැකිල්ල යම්සේ දක්නේ ද, හෙතෙම මේ කය එය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය මේ සවභාවය නො ඉක්මවූයේ ය' යි. මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (6)

12. තවද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ සක් පැහැ බඳු සුදු ඇට ඇති ශරීරයක් යම් සේ දක්නේ ද, හෙතෙමේ මේ කය ම ඒ කය හා එළවා සසඳා බලයි: 'මේ ශරීරයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය. මෙබඳු සවභාවය නො ඉක්මවූයේ ය'යි මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (7)

13. පුනචපරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං- අට්ඨිකානි පුඤ්ජකිතානි තෙරොවස්සිකානි, සො ඉමමෙව කායං උපසංහරති: 'අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතො'ති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (8)

14. පුනචපරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං- අට්ඨිකානි පූතීනි චුණ්ණකජාතානි, සො ඉමමෙව කායං උපසංහරති: 'අයම්පි ඛො කායො එවං ධම්මො එවම්භාවී එතං අනතීතො'ති. ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති. -පෙ- එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති. (9)

එවං ඛො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති.

[කායානුපස්සනා සතිපට්ඨානං]

## (2. වෙදනානුපස්සනාසතිපට්ඨානං:)

කථඤ්ච භික්ඛවෙ භික්ඛු වෙදනාසු වෙදනානුපස්සී විහරති?

1. ඉධ භික්ඛවෙ භික්ඛු සුඛං වෙදනං වෙදියමානො 'සුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. දුක්ඛං වෙදනං වෙදියමානො 'දුක්ඛං වෙදනං වෙදියාමී'ති පජානාති. අදුක්ඛමසුඛං වෙදනං වෙදියමානො 'අදුක්ඛමසුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. සාමිසං වා සුඛං වෙදනං වෙදියමානො 'සාමිසං සුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. නිරාමිසං වා සුඛං වෙදනං වෙදියමානො 'නිරාමිසං සුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. සාමිසං වා දුක්ඛං වෙදනං වෙදියමානො 'සාමිසං දුක්ඛං වෙදනං වෙදියාමී'ති පජානාති. නිරාමිසං වා දුක්ඛං වෙදනං වෙදියමානො 'නිරාමිසං දුක්ඛං වෙදනං වෙදියාමී'ති පජානාති. සාමිසං වා අදුක්ඛමසුඛං වෙදනං වෙදියමානො 'සාමිසං අදුක්ඛමසුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. නිරාමිසං වා අදුක්ඛමසුඛං වෙදනං වෙදියමානො 'නිරාමිසං අදුක්ඛමසුඛං වෙදනං වෙදියාමී'ති පජානාති. (1-9)

ඉති අජ්ඣත්තං වා වෙදනාසු වෙදනානුපස්සී විහරති. බහිද්ධා වා වෙදනාසු වෙදනානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා වෙදනාසු වෙදනානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා වෙදනාසු විහරති වයධම්මානුපස්සී වා වෙදනාසු විහරති. සමුදයවයධම්මානුපස්සී වා වෙදනාසු විහරති. අත්ථි වෙදනාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති.

එවං ඛො භික්ඛවෙ භික්ඛු වෙදනාසු වෙදනානුපස්සී විහරති.

[වෙදනානුපස්සනාසතිපට්ඨානං.]

13. තවද මහණෙනි, මහණ තෙමේ සොහොනෙහි ලූ අවුරුදු ගණන් ඉක්මගිය පුසුපුම්සානත (තැන තැන රැස්) වූ ඇට කැබලි ඇති... ශරීරයක් යම්සේ දක්නේ ද, හෙතෙමේ මේ කය ම ඒ කය හා එළවා සසඳා බලයි: 'මේ ශරීරයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය මෙබඳු සවභාවය නො ඉක්මවූයේ යැ'යි මෙසේ තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි. ... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සී ව වාසය කරයි. (8)

14. තවද මහණෙනි, මහණ තෙමේ කුණු වූ කුඩු වූ සොහොනෙහි ලූ ඇට ගොඩක් වූ ශරීරයක් යම් සේ දක්නේ ද, හෙතෙමේ මේ කය ම ඒ කය හා එළවා සසඳා බලයි: 'මේ කයත් මෙබඳු සවභාව ඇත්තේ ය. මෙසේ වන සුලු ය. මේ සවභාවය නො ඉක්මවූයේ ය' යි මෙසේත් තමාගේ කයෙහි හෝ කායානුපස්සී ව වාසය කරයි... මහණෙනි, මෙසේත් මහණ තෙමේ කයෙහි කායානුපස්සීව වාසය කරයි. (9)

මහණෙනි, මෙසේ මහණතෙම කයෙහි කායානුපස්සී ව වාසය කරයි.

[කායානුපස්සනා සතිපට්ඨාන යි ]

## (2. වේදනානුපස්සනාසතිපට්ඨානය.)

මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් වේදනාවන්හි වේදනා-වන් නුවණින් බලන සුලු ව වාසස කෙරේ ද ?

1. මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ සැප වේදනාවක් විඳින්නේ සැප වේදනාවක් විඳිමි යි (සම්‍යක් ප්‍රඥාවෙන්) දනී. දුක් වේදනාවක් විඳින්නේ දුක් වේදනාවක් විඳිමි යි දනී. නො දුක් නො සැප වේදනාවක් විඳින්නේ නො දුක් නො සැප වේදනාවක් විඳිමි යි දනී. ආමිස(පස්කම් ගුණ) සහිත සුඛවේදනාවක් විඳින්නේ සාමිසසුඛවේදනාවක් විඳිමි යි දනී. ආමිස-රහිතසුඛවේදනාවක් හෝ විඳින්නේ නිරාමිසසුඛවේදනාවක් විඳිමි යි දනී. සාමිසදුක්ඛවේදනාවක් හෝ විඳින්නේ සාමිසදුක්ඛ වේදනාවක් විඳිමි යි දනී. නිරාමිසදුක්ඛවේදනාවක් හෝ විඳින්නේ නිරාමිසදුක්ඛවේදනාවක් විඳිමි යි දනී සාමිස නො දුක් නො සැප වේදනාවක් හෝ විඳින්නේ සාමිස නො දුක් නො සැප වේදනාවක් විඳිමි යි දනී නිරාමිස නො දුක් නො සැප වේදනාවක් හෝ විඳින්නේ නිරාමිස නො දුක් නො සැප වේදනාවක් විඳිමි යි දනී. (1-9)

මෙසේ තමා පිළිබඳ වේදනාවන්හි වේදනා නුවණින් බලනසුලුව හෝ වාසය කරයි. අනුන් පිළිබඳ වේදනාවන්හි වේදනා නුවණින් බලන සුලු ව වාසය කරයි. තමන් පිළිබඳ වූ හෝ අනුන් පිළිබඳ වූ හෝ වේදනාවන්හි වේදනා නුවණින් බලන සුලුව වාසය කරයි. වේදනාවන්හි හටගැනීම නුවණින් බලන සුලු ව හෝ වාසය කරයි. වේදනාවන්හි විනාශය නුවණින් බලන සුලු ව හෝ වාසය කරයි වේදනාවන්හි හටගැනීම හා නැසීම නුවණින් බලනසුලුව හෝ වාසය කරයි. හුදෙක් වේදනාව පමණක් ඇතැයි ඔහුගේ සිහිය නුවණ වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි ඇසුරු නො කෙළෙ ද වෙසෙයි. වේදනාසංඛ්‍යාත ලෝකයෙහි කිසිවක් 'මම ය මාගේ ය' යි නො ගනි යි.

මහණෙනි, මෙසේ මහණ තෙමේ වේදනාවන්හි වේදනානුපස්සී ව වාසය කරයි.

[වේදනානුපස්සනා සතිපට්ඨාන යි.]

### (3. චිත්තානුපස්සනාසතිපට්ඨානං:)

කථඤ්ච භික්ඛවෙ භික්ඛු චිත්තෙ චිත්තානුපස්සී විහරති?

1. ඉධ භික්ඛවෙ භික්ඛු සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති. වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති. වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති. සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති. වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති. සඞ්ඛිත්තං වා චිත්තං සඞ්ඛිත්තං චිත්තන්ති පජානාති. වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති. මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති. අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති. සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති. අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති. සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති. අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති. විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති. අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති. (1-16)

ඉති අජ්ඣත්තං වා චිත්තෙ චිත්තානුපස්සී විහරති. බහිද්ධා වා චිත්තෙ චිත්තානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා චිත්තෙ චිත්තානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති. වයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති. සමුදයවයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති. අත්ථි චිත්තන්ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති.

එවං ඛො භික්ඛවෙ චිත්තෙ චිත්තානුපස්සී විහරති.

[චිත්තානුපස්සනාසතිපට්ඨානං.]

### (4. ධම්මානුපස්සනාසතිපට්ඨානං:)

කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති?

1. ඉධ භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු?

ඉධ භික්ඛවෙ භික්ඛු සන්තං වා අජ්ඣත්තං කාමච්ඡන්දං 'අත්ථි මෙ අජ්ඣත්තං කාමච්ඡන්දො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං කාමච්ඡන්දං 'නත්ථි මෙ අජ්ඣත්තං කාමච්ඡන්දො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස කාමච්ඡන්දස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස කාමච්ඡන්දස්ස පහානං හොති, තඤ්ච පජානාති. යථා ච පහීනස්ස කාමච්ඡන්දස්ස ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. (1)

සන්තං වා අජ්ඣත්තං බ්‍යාපාදං 'අත්ථි මෙ අජ්ඣත්තං බ්‍යාපාදො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං බ්‍යාපාදං 'නත්ථි මෙ අජ්ඣත්තං බ්‍යාපාදො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස බ්‍යාපාදස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස බ්‍යාපාදස්ස පහානං හොති, තඤ්ච පජානාති. යථා ච පහීනස්ස බ්‍යාපාදස්ස ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. (2)

මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් සිතෙහි සිත නුවණින් බලනසුලු වූයේ වාසය කෙරේ ද?

1. මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ රාග සහිත වූ හෝ සිත රාග සහිත සිතැයි (සම්‍යක් ප්‍රඥාවෙන්) දනී. රාග රහිත වූ සිත රාග රහිත සිතැයි දනී. ද්වේෂ සහිත වූ හෝ සිත ද්වේෂ සහිත සිතැයි දනී. ද්වේෂ රහිත වූ හෝ සිත ද්වේෂ රහිත සිතැයි දනී. මෝහ සහිත වූ හෝ සිත මෝහ සහිත සිතැයි දනී. මෝහ රහිත වූ හෝ සිත මෝහ රහිත සිතැයි දනී. (ථිනමිද්ධයෙන්) හැකුළුණු හෝ සිත හැකුළුණු සිතැයි දනී. (උද්ධච්චයෙන් නානාලම්බනයන්හි) විසිර ගියා වූ හෝ සිත විසුරුණු සිතැයි දනී. මහග්ගත (රූපාරූපාවචර) වූ හෝ සිත මහග්ගත සිතැයි දනී. මහග්ගත නොවූ හෝ සිත මහග්ගත නොවූ සිතැයි දනී. සඋත්තර (කාමාවචර)වූ හෝ සිත සඋත්තර සිතැයි දනී. අනුත්තර (රූපාරූපාවචර) වූ හෝ සිත අනුත්තර සිතැයි දනී. සමාහිත (සමාධිගත) වූ හෝ සිත සමාහිත සිතැයි දනී. අසමාහිත වූ හෝ සිත අසමාහිත සිතැයි දනී. (තදඞ්ග වික්ඛම්භන වසයෙන්) මිදුණා වූ හෝ සිත මිදුණා වූ සිතැයි දනී නොමිදුණු හෝ සිත නොමිදුණු සිතැයි දනී. (1-16)

මෙසේ තමාගේ සිතෙහි හෝ චිත්තානුපස්සී ව වාසය කරයි. අනුන්ගේ සිතෙහි හෝ චිත්තානුපස්සී ව වාසය කරයි. තමන්ගේත් අනුන්ගේත් සිත්හි හෝ චිත්තානුපස්සී ව වාසය කරයි. සිතේ හටගැන්ම බලන සුලු ව හෝ වාසය කරයි. සිතේ විනාශය බලන සුලු ව හෝ වාසය කරයි. සිතේ හටගැන්ම හා විනාශය බලන සුලු ව හෝ වාසය කරයි. නුදෙක් සිත පමණක් ඇත්තේය යි ඔහුගේ සිහිය නුවණ වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි ඇසුරු නො කෙළේ ද වෙසෙසි. චිත්තසඞ්ඛ්‍යාත ලෝකයෙහි කිසිවක් 'මමය මාගේ ය' යි නො ගෙන වාසය කරයි.

මහණෙනි, මෙසේ මහණ තෙම චිත්තයෙහි චිත්තානුපස්සී ව වාසය කරයි.

[චිත්තානුපස්සනා සතිපට්ඨාන යි.]

(4 ධම්මානුපස්සනාසතිපට්ඨානය:)

1. මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් ධර්මයන්හි ධර්මය නුවණින් බලන සුලු ව වාසය කෙරේ ද?

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ පඤ්චනීවරණ ධර්මයන්හි ධර්මය නුවණින් බලන සුලු ව වාසය කෙරේ. මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් පඤ්චනීවරණ ධර්මයන්හි ධර්මය නුවණින් බලන සුලු ව වාසය කෙරේ ද?

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ තමා තුළ ඇත්තා වූ හෝ කාමච්ඡන්දය 'මා තුළ කාමච්ඡන්දය ඇත්තේ ය' යි (සම්‍යක් ප්‍රඥායෙන්) දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ කාමච්ඡන්දය 'මා තුළ කාමච්ඡන්දය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන් කාමච්ඡන්දයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම්සේ උපන් කාමච්ඡන්දයාගේ ප්‍රහාණය වේ ද, එය ද දැන ගනියි. යම්සේ ප්‍රහීණ වූ කාමච්ඡන්දයාගේ මතු නො ඉපදීම වේ ද, එය ද දැන ගනියි. (1)

තමා තුළ ඇත්තා වූ හෝ ව්‍යාපාදය මා තුළ ව්‍යාපාදය ඇත්තේ ය' යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ ව්‍යාපාදය 'මා තුළ ව්‍යාපාදය නැත්තේය'යි දැන ගනියි. යම් සේ නූපන් ව්‍යාපාදයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම් සේ උපන් ව්‍යාපාදයාගේ ප්‍රහාණය වේ ද, එය ද දැන ගනියි. යම්සේ ප්‍රහීණ වූ ව්‍යාපාදයාගේ මතු නො ඉපදීම වේ ද, එය ද දැන ගනියි. (2)

සන්තං වා අජ්ඣත්තං පීතම්ද්ධං 'අත්ථි මෙ අජ්ඣත්තං පීතම්ද්ධන්ති' පජානාති. අසන්තං වා අජ්ඣත්තං පීතම්ද්ධං 'නත්ථි මේ අජ්ඣත්තං පීතම්ද්ධන්ති, පජානාති. යථා ච අනුප්පන්නස්ස පීතම්ද්ධස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස පීතම්ද්ධස්ස පහානං හොති, තඤ්ච පජානාති. යථා ච පහීනස්ස පීතම්ද්ධස්ස ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. (3)

සන්තං වා අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්චං 'අත්ථි මෙ අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්ච'න්ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං උද්ධච්ච-කුක්කුච්චං 'නත්ථි මෙ අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්ච'න්ති පජානාති. යථා ච අනුප්පන්නස්ස උද්ධච්චකුක්කුච්චස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස උද්ධච්චකුක්කුච්චස්ස පහානං හොති, තඤ්ච පජානාති. යථා ච පහීනස්ස උද්ධච්චකුක්කුච්චස්ස ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. (4)

සන්තං වා අජ්ඣත්තං විචිකිච්ඡං 'අත්ථි මෙ අජ්ඣත්තං විචිකිච්ඡා'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං විචිකිච්ඡං 'නත්ථි මෙ අජ්ඣත්තං විචිකිච්ඡා'ති පජානාති. යථා ච අනුප්පන්නාය විචිකිච්ඡාය උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නාය විචිකිච්ඡාය පහානං හොති, තඤ්ච පජානාති. යථා ච පහීනාය විචිකිච්ඡාය ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. (5)

ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. අත්ථි ධම්මාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවං ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු.

[නීවරණපබ්බං.]

2. පුනච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු පාදානක්ඛන්ධෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසුපාදානක්ඛන්ධෙසු.?

ඉධ භික්ඛවෙ භික්ඛු "ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථගමො. ඉති වෙදනා, ඉති වෙදනාය සමුදයො, ඉති වෙදනාය අත්ථගමො. ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථගමො. ඉති සඞ්ඛාරා, ඉති සඞ්ඛාරානං සමුදයො, ඉති සඞ්ඛාරානං අත්ථගමො. ඉති විඤ්ඤාණං, ඉති විඤ්ඤාණස්ස සමුදයො, ඉති විඤ්ඤාණස්ස අත්ථගමො"ති [1-5].

ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති-

තමා තුළ ඇත්තා වූ හෝ ථීනමිද්ධය 'මා තුළ ථීනමිද්ධය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ ථීනමිද්ධය 'මා තුළ ථීනමිද්ධය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන් ථීනමිද්ධයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම් සේ උපන් ථීනමිද්ධයාගේ ප්‍රහාණය වේ ද, එය ද දැන ගනියි. යම් සේ ප්‍රහීණ වූ ථීනමිද්ධයාගේ මතු නො ඉපදීම වේ ද, එය ද දැන ගනියි. (3)

තමා තුළ ඇත්තා වූ හෝ උද්ධච්චකුක්කුච්චය 'මා තුළ උද්ධච්චකුක්කුච්චය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ උද්ධච්චකුක්කුච්චය 'මා තුළ උද්ධච්චකුක්කුච්චය නැතැ'යි දැන ගනියි. යම් සේ නූපන් උද්ධච්චකුක්කුච්චයාගේ ඉපදීම වේ ද එය ද, දැන ගනියි. යම්සේ උපන් උද්ධච්චකුක්කුච්චයාගේ ප්‍රහාණය වේ ද, එය ද දැන ගනියි. යම්සේ ප්‍රහීණ වූ උද්ධච්චකුක්කුච්චයාගේ මතු නො ඉපදීම වේ ද, එය ද දැන ගනියි. (4)

තමා තුළ ඇත්තා වූ හෝ විචිකිච්ඡාව 'මා තුළ විචිකිච්ඡාව ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ විචිකිච්ඡාව 'මා තුළ විචිකිච්ඡාව නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන් විචිකිච්ඡාවෙහි ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම්සේ උපන් විචිකිච්ඡාවෙහි ප්‍රහාණය වේ ද, එය ද දැන ගනියි යම්සේ ප්‍රහීණ වූ විචිකිච්ඡාවෙහි මතු නො ඉපදීම වේ ද, එය ද දැන ගනියි. (5)

මෙසේ තමා තුළ වූ ධර්මයන්හි ධර්මය නුවණින් බලනසුලු ව වාසය කරයි. බාහිර වූ ධර්මයන්හි ධර්මය නුවණින් බලනසුලු ව වාසය කරයි. තමන් හා අනුන් පිළිබඳ වූ ධර්මයන්හි ධර්මය නුවණින් බලනසුලු ව වාසය කරයි. නීවරණ ධර්මයන්ගේ හටගැනීම නුවණින් බලනසුලු ව හෝ වාසය කරයි. නීවරණ ධර්මයන්හි විනාශය නුවණින් බලනසුලු ව හෝ වාසය කරයි. නීවරණ ධර්මයන්හි හටගැනීම හා නැසීම නුවණින් බලනසුලුව හෝ වාසය කරයි. ඔහුට (මතුමත්තෙහි) නුවණ වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස හුදෙක් නීවරණ ධර්ම පමණක් ඇත යන සිහිය එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි ඇසුරු නො කෙලේ ද වාසය කරයි. නීවරණ (සඞ්ඛ්‍යාත) ලොකයෙහි කිසිවක් 'මම ය, මාගේ ය' යි නො ගනියි. මහණෙනි, මහණ තෙමේ මෙසේ පඤ්චනීවරණ ධර්මයන්හි ධර්මය නුවණින් බලනසුලු වූයේ වාසය කරයි.

[නීවරණපබ්බ යි.]

2. තව ද මහණෙනි, මහණ තෙමේ පඤ්චඋපාදානස්කන්ධ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් පඤ්ච උපාදානස්කන්ධයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කෙරේ ද?

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ "රූපය මෙසේ ය, රූපයෙහි හට ගැන්ම මෙසේ ය, රූපයෙහි විනාශය මෙසේ ය. වෙදනාව මෙසේ ය, වෙදනාවෙහි හටගැනීම මෙසේ ය, වෙදනාවෙහි විනාශය මෙසේය. සංඥාව මෙසේ ය. සංඥාවෙහි හටගැන්ම මෙසේ ය. සංඥාවේ විනාශය මෙසේ ය. සංස්කාරයෝ මෙසේ ය, සංස්කාරයන්ගේ හටගැන්ම මෙසේ ය, සංස්කාරයන්ගේ විනාශය මෙසේ ය. විඥානය මෙසේය, විඥානයෙහි හටගැනීම මෙසේය විඥානයෙහි විනාශය මෙසේය" යි (1-5].

මෙසේ තමා පිළිබඳ වූ හෝ ධර්මයන් කෙරෙහි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. අනුන් පළිබඳ වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි-

අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. සමුදය-වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. අත්ථි ධම්මාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවං ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසුපාදානක්ඛන්ධෙසු.

[ඛන්ධපබ්බං.]

3. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු?

ඉධ භික්ඛවෙ භික්ඛු චක්ඛුඤ්ච පජානාති. රූපෙ ච පජානාති. යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං, තඤ්ච පජානාති. යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති. තඤ්ච පජානාති. යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති, තඤ්ච පජානාති. සොතඤ්ච පජානාති. සද්දෙ ච පජානාති -පෙ- ඝාණඤ්ච පජානාති. ගන්ධෙ ච පජානාති -පෙ- ජිව්හඤ්ච පජානාති රසෙ ච පජානාති -පෙ- කායඤ්ච පජානාති. ඵොට්ඨබ්බෙ ච පජානාති -පෙ- මනඤ්ච පජානාති. ධම්මෙ ච පජානාති. යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං, තඤ්ච පජානාති. යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති, තඤ්ච, පජානාති. යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති (1-6).

ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. අත්ථි ධම්මාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවං ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු.

[ආයතනපබ්බං.]

4. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු?

ඉධ භික්ඛවෙ භික්ඛු සන්තං වා අජ්ඣත්තං සතිසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං සතිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං සතිසම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං සතිසම්බො අජ්ඣඞ්ගො'ති පජානාති—

තමන් හා අනුන් ද පිළිබඳ වූ හෝ ධම්මයන්හි ධර්මානුපස්සී වූයේ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි විනාශය නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි හටගැනීම හා විනාශය නුවණින් බලනසුලු වූයේ වාසය කරයි. ඒ මහණහට (මතුමත්තෙහි) ඥානය වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස හුදෙක් පඤ්චඋපාදානස්කන්ධධර්ම පමණක් ඇත යන සිහිය එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි ඇසුරු නො කෙළේ වාසය කරයි. උපාදානස්කන්ධසංඛ්‍යාත ලොකයෙහි කිසිවක් 'මම ය, මාගේ ය' යි නො ගනියි. මහණෙනි, මෙසේ මහණ තෙමේ පඤ්චඋපාදානස්කන්ධ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි.

[ඛන්ධ පබ්බ යි.]

3. තවද මහණෙනි, මහණ තෙමේ ආධ්‍යාත්මික බාහිර ෂඩායතන ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. මහණෙනි, මහණ තෙමේ කෙසේ නම් ආධ්‍යාත්මික බාහිර ෂඩායතන ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කෙරේ ද?

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ ඇස ද දනී. රූපය ද දනී. එ දෙක නිසා යම් සංයෝජනයක් උපදී ද, එයත් දනී. යම්සේ නූපන් සංයොජනයාගේ ඉපදීම වේ ද එයත් දනී. යම්සේ උපන් සංයෝජනයාගේ ප්‍රහාණය වේ ද, එයත් දනී. යම්සේ ප්‍රහීණ වූ සංයොජනයාගේ මතු නො ඉපදීම වේ ද එයත් දනී, කන ද දනී. ශබ්දය ද දනී. ... නාසය ද දනී. ගඳ ද දනී. ... දිව ද දනී. රස ද දනී. ... ශරීරය ද දනී. ස්ප්‍රෂ්ටව්‍යයත් දනී. ... හිත ද දනී. ධර්මයත් ද දනී. දෙක නිසා යම් සංයොජනයක් උපදී නම්, එයත් දනී. යම්සේ නූපන් සංයෝජනයාගේ නූපදීම වේ ද, එයත් දනී. යම්සේ උපන් සංයොජනයාගේ ප්‍රහාණය වේ ද, එයත් දනී. යම්සේ ප්‍රහීණ සංයොජනයාගේ මතු නො ඉපදීම වේ ද එයත් දනී(1-6).

මෙසේ ආධ්‍යාත්මික වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. බාහිර වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. ආධ්‍යාත්මික බාහිර වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි හටගැනීම හා විනාශයත් නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ඔහුට සිහිය වැඩීම පිණිස ඥානය වැඩීම පිණිස හුදෙක් ආයතන ධර්ම පමණක් ඇත යන සිහිය එළඹ සිටියේ වෙයි. තෘෂ්ණා දෘෂ්ටි නිඃශ්‍රය රහිත ව වාසය කරයි. (ආයතන) සංඛ්‍යාත ලොකයෙහි කිසිවක් 'මම ය මාගේ ය' යි නො ගනියි. මහණෙනි, මෙසේත් මහණ තෙමේ ආධ්‍යාත්මික බාහිර ආයතන ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි.

[ආයතන පබ්බ යි.]

4. තව ද මහණෙනි, මහණ තෙමේ සප්ත බොධ්‍යඞ්ග ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. මහණෙනි, කෙසේ නම් මහණ තෙමේ සප්ත බොධ්‍යඞ්ග ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කෙරේ ද?

තමා තුළ ඇත්තා වූ හෝ සතිසම්බොජ්ඣඞ්ගය 'මා තුළ සතිසම්බොජ්ඣඞ්ගය ඇතැ' යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ සතිසම්බොජ්ඣඞ්ගය 'මා තුළ සතිසම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනියි—

යථා ච අනුප්පන්නස්ස සතිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස සතිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරී හොති, තඤ්ච පජානාති. (1)

සන්තං වා අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගං 'අත්ථි මෙ අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං ධම්මවිචය-සම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස ධම්මවිචයසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස ධම්මවිචයසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරී හොති, තඤ්ච පජානාති. (2)

සන්තං වා අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ 'අජ්ඣත්තං විරිය-සම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස විරියසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස විරියසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරී හොති තඤ්ච පජානාති. (3)

සන්තං වා අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගං 'අත්ථි මෙ අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස පීතිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස පීතිසම්බොජ්ඣඞ්ගස්ස භාවානාපාරිපාරිහොති, තඤ්ච පජානාති. (4)

සන්තං වා අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගං 'අත්ථි මෙ අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං පස්සද්ධි-සම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස පස්සද්ධිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස පස්සද්ධිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරී හොති, තඤ්ච පජානාති. (5.)

සන්තං වා අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගං 'අත්ථි මෙ අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං සමාධි-සම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස සමාධිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස සමාධිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරි හොති, තඤ්ච පජානාති. (6.)

සන්තං වා අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගං 'අත්ථි මෙ අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. අසන්තං වා අජ්ඣත්තං උපක්ඛා-සම්බොජ්ඣඞ්ගං 'නත්ථි මෙ අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගො'ති පජානාති. යථා ච අනුප්පන්නස්ස උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති, තඤ්ච පජානාති. යථා ච උප්පන්නස්ස උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගස්ස භාවනාපාරිපූරි හොති, තඤ්ච පජානාති. (7)

ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානු පස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. වයධම්මානු පස්සී වා ධම්මෙසු විහරති. සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. අත්ථි ධම්මාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු.

[බොජ්ඣඞ්ගපබ්බං.]

යම්සේ නූපන්නාවූ හෝ සතිසම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම්සේ උපන්නා වූ ද සතිසම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් සම්පූර්ණත්වය වේ ද, එය ද දැන ගනියි. (1)

තමා තුළ ඇත්තා වූ හෝ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය 'මා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය 'මා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන්නා වූ ද ධම්මවිචය සම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනී. යම්සේ උපන්නා වූ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැන ගනියි (2)

තමා තුළ ඇත්තා වූ හෝ විරිය සම්බොජ්ඣඞ්ගය 'මා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ විරිය සම්බොජ්ඣඞ්ගය 'මා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන්නා වූ ද විරිය සම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැන ගනියි. (3)

තමා තුළ ඇත්තා වූ හෝ පීති සම්බොජ්ඣඞ්ගය 'මා තුළ පීති සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ පීති සම්බොජ්ඣඞ්ගය 'මා තුළ පීතිසම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන්නා වූ ද පීතිසම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම්සේ උපන්නාවූ ද පීති සම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැන ගනියි. (4)

තමා තුළ ඇත්තා වූ හෝ පස්සද්ධිසම්බොජ්ඣඞ්ගය 'මා තුළ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනියි තමා තුළ නැත්තා වූ හෝ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය 'මා තුළ පස්සද්ධිසම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනියි. යම්සේ නූපන්නා වූ ද පස්සද්ධිසම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනියි. යම්සේ උපන්නා වූ ද පස්සද්ධිසම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැන ගනියි. (5)

තමා තුළ ඇත්තා වූ හෝ සමාධි සම්බොජ්ඣඞ්ගය 'මා තුළ සමාධි-සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනියි. තමා තුළ නැත්තා වූ හෝ සමාධි සම්බොජ්ඣඞ්ගය 'මා තුළ සමාධි සම්බොජ්ඣඞ්ගය නැතැ' යි දැන ගනියි. යම්සේ නූපන්නාවූ ද සමාධිසම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනී. යම්සේ උපන්නාවූ ද සමාධි සම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැනගනී. (6)

තමා තුළ ඇත්තාවූ හෝ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය 'මා තුළ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය ඇතැ'යි දැන ගනී. තමා තුළ නැත්තා වූ හෝ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය 'මා තුළ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය නැතැ'යි දැන ගනී. යම් සේ නූපන්නා වූ ද උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගයාගේ ඉපදීම වේ ද, එය ද දැන ගනී. යම්සේ උපන්නාවූ ද උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගයාගේ වැඩීමෙත් පරිපූර්ණත්වය වේ ද, එය ද දැන ගනී (7)

මෙසේ තමා තුළ වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. බාහිර වූ හෝ ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. තමා තුළ හා බාහි රවූද ධර්මයන්හි හෝ ධම්මානුපස්සී වූයේ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි විනාශය නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම හා විනාශය නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ඒ මහණහට (මතු මත්තෙහි) ඤාණය වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස නුදෙක් බොධ්‍යඞ්ගධර්ම පමණක් ඇතැයි යන සිහිය එළඹ සිටියේ වේ. තණ්හා දිට්ඨි නිඃශ්‍රය රහිතවූයේ වාසය කරයි. (බොධ්‍යඞ්ගධර්ම සඞ්ඛ්‍යාත) ලොකයෙහි කිසිවක් 'මම ය මාගේ ය' යි නොගනී. මහණෙනි, මහණ තෙමේ මෙසේත් සප්තබොධ්‍යඞ්ග-ධර්මයන්හි ධර්මානුපස්සී වූයේ වාසය කරයි.

[බොජ්ඣඞ්ග පබ්බ යි.]

5. පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු. කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු?

ඉධ භික්ඛවෙ භික්ඛු 'ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති' අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති. 'අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති. 'අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති.

ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති. සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති, වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති. අත්ථි ධම්මාති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය. අනිස්සිතො ච විහරති. න ච කිඤ්චි ලොකෙ උපාදියති. එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු.

[සච්චපබ්බං.]

1. යො හි කොචි භික්ඛවෙ ඉමෙ චත්තාරො සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය සත්ත වස්සානි, තස්ස ද්වින්නං ඵලානං අඤ්ඤතරං ඵලං පාටිකඞ්ඛං: දිට්ඨෙව ධම්මෙ අඤ්ඤා, සති වා උපාදිසෙසෙ අනාගාමිතා. තිට්ඨන්තු භික්ඛවෙ සත්ත වස්සානි, යො හි කොචි භික්ඛවෙ ඉමෙ චත්තාරො සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය ඡබ්බස්සානි[1] -පෙ- පඤ්ච වස්සානි -පෙ- චත්තාරි වස්සානි -පෙ- තීණි වස්සානි -පෙ- ද්වෙ වස්සානි -පෙ- එකං වස්සං -පෙ- තිට්ඨතු භික්ඛවෙ එකං වස්සං, යො හි කොචි භික්ඛවෙ ඉමෙ චත්තාරො සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය සත්ත මාසානි, තස්ස ද්වින්නං ඵලානං අඤ්ඤතරං ඵලං පාටිකඞ්ඛං: දිට්ඨෙව ධම්මෙ අඤ්ඤා, සති වා උපාදිසෙසෙ අනාගාමිතා. තිට්ඨන්තු භික්ඛවෙ සත්ත මාසානි, යො හි කොචි භික්ඛවෙ ඉමෙ චත්තාරො සති සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය' ඡ මාසානි -පෙ- පඤ්ච මාසානි -පෙ- චත්තාරි මාසානි -පෙ- තීණි මාසානි -පෙ- ද්වෙ මාසානි -පෙ- මාසං[2] -පෙ- අඩ්ඪමාසං -පෙ- තිට්ඨතු භික්ඛවෙ අඩ්ඪමාසො, යො හි කොචි භික්ඛවෙ ඉමෙ චත්තාරො සතිපට්ඨානෙ එවං භාවෙය්‍ය සත්තාහං, තස්ස ද්වින්නං ඵලානං අඤ්ඤතරං ඵලං පාටිකඞ්ඛං: දිට්ඨෙව ධම්මෙ අඤ්ඤා, සති වා උපාදිසෙසෙ අනාගාමිතා.

"එකායනො අයං භික්ඛවෙ මග්ගො සත්තානං විසුද්ධියා සොකපරිද්දවානං සමතික්කමාය දුක්ඛදොමනස්සානං අත්ථගමාය ඤායස්ස අධිගමාය නිබ්බානස්ස සච්ඡිකිරියාය යදිදං චත්තාරො සතිපට්ඨානා"ති, ඉති යන්තං වුත්තං ඉදමෙතං පටිච්ච වුත්තන්ති.

ඉදමවොච භගවා. අත්තමනා තෙ භික්ඛු භගවතො භාසිතං අභිනන්දුන්ති.

සතිපට්ඨානසුත්තං[3] දසමං.

මූලපරියායවග්ගො පඨමො.

---

1. ඡවස්සානි, PTS. මජ්සං. 2 එකං මාසං, මජ්සං.
3. මහාසතිපට්ඨානසුත්තං, මජ්සං.

5. තවද මහණෙනි, මහණ තෙමේ චතුරාර්‍යසත්‍ය ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි. මහණෙනි, කෙසේ නම් මහණ තෙමේ චතුරාර්‍යසත්‍ය ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කෙරේ ද?

මහණෙනි, මේ ශාසනයෙහි මහණ තෙමේ 'මේ දුක්ඛ ය'යි තතුසේ දැන ගනියි. 'මේ දුක්ඛසමුදය'යි තතුසේ දැන ගනියි. 'මේ දුක්ඛනිරෝධ ය' යි තතුසේ දැන ගනියි. 'මේ දුක්ඛනිරෝධගාමිනී පටිපදා ය'යි තතුසේ දැන ගනියි.

මෙසේ තමා තුළ වූ හෝ ධර්මයන්හි ධර්මයන් නුවණින් බලනසුලු වූයේ වාසය කරයි. බාහිර වූ හෝ ධර්මයන්හි ධර්මයන් නුවණින් බලනසුලු වූයේ වාසය කරයි. තමන් හා මෙරමා ද පිළිබඳ වූ ධර්මයන්හි ධර්මයන් නුවණින් බලනසුලු වූයේ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම නුවණින් බලනසුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි විනාශය නුවණින් බලන-සුලු වූයේ හෝ වාසය කරයි. ධර්මයන්හි හටගැන්ම හා විනාශය නුවණින් බලන සුලු වූයේ හෝ වාසය කරයි. ඒ මහණහට (මතුමත්තෙහි) ඥානය වැඩීම පිණිස සිහිය වැඩීම පිණිස හුදෙක් ආර්‍යසත්‍ය ධර්ම පමණක් ඇත යන සිහිය එළඹ සිටියේ වේ. තෘෂ්ණා දෘෂ්ටි නිඃශ්‍රය රහිත වූයේ වාසය කරයි. ආර්‍යසත්‍යසඞ්ඛ්‍යාත ලොකයෙහි කිසිවක් 'මම ය මාගේ ය' යි නො ගනියි. මහණෙනි, මහණ තෙමේ මෙසේත් චතුරාර්‍ය-සත්‍ය ධර්මයන්හි ධම්මානුපස්සී වූයේ වාසය කරයි.

[සච්ච පබ්බ යි.]

1. මහණෙනි, යම් කිසිවෙක් මේ සතර සතිපට්ඨානයන් මෙසේ (පිහි ලෙස) සත් අවුරුද්දක් වඩන්නේ නම් ඔහු දෙපලයන් අතුරෙහි එක්තරා පලයක් - දිට්ඨ ධම්මයෙහි ම රහත්පලය හෝ උපාදානයන් ඉතිරි ව ඇති කල්හි අනාගාමි භාවය හෝ කැමැති විය (එකැතින් ලැබිය) යුතු. මහණෙනි, සත් අවුරුද්දක් තිබියේවා මහණෙනි, යම් කිසිවෙක් මේ සතර සතිපට්ඨානයන් මෙසේ අවුරුදු සයක් ... අවුරුදු පහක් ... අවුරුදු සතරක් ... අවුරුදු තුනක් ... අවුරුදු දෙකක් ... අවුරුදු එකක් ... මහණෙනි, එක අවුරුද්ද තිබියේවා. මහණෙනි, යම් කිසිවෙක් මේ සතර සතිපට්ඨානයන් මෙසේ හත්මසක් වඩන්නේ නම් ඔහු විසින් දෙපලයන් අතුරෙන් එක්තරා පලයක් - ඉහාත්මයෙහි ම රහත්පලය හෝ උපාදාන ඉතිරි ව ඇති කල්හි අනාගාමි භාවය හෝ කැමැති විය යුතු. මහණෙනි, සත්මස තිබියේවා. සමසක් ... පස්මසක් ... සාරමසක් ... තුන්මසක් ... දෙමසක් ... මාසයක් ... අඩමසක් ... මෙසේ මේ සතර සතිපට්ඨානයන් වඩන්නේ නම්... මහණෙනි, අඩමසක් තිබියේවා. මහණෙනි, යම් කිසිවෙක් මේ සතිපට්ඨානයන් මෙසේ සත්දවසක් වඩන්නේ නම් ඔහු විසින් දෙපලයන් අතුරෙන් එක්තරා පලයක් - ඉහාත්මයෙහි ම රහත්පලය හෝ උපාදාන ඉතිරි ව ඇතිකල්හි අනාගාමිභාවය හෝ කැමති විය යුතු.

"මහණෙනි, සත්ත්වයන්ගේ පිරිසුදු වීම පිණිස, ශොක-පරිදෙවයන් නැතී කිරීම පිණිස, දුක්-දොම්නස් ඉක්මවීම පිණිස, ආර්‍යාෂ්ටාඞ්ගික මාර්ගයාගේ අවබොධය පිණිස, නිවන් පසක් කරනු පිණිස, මේ එකායන මාර්ගය - එනම් මේ සතර සතිපට්ඨාන" යි. මා විසින් යමක් කියන ලද නම් එය මේ නිසා කියන ලද්දේ ය.

භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක. සතුටු සිත් ඇති ඒ භික්ෂූහු භාග්‍යවතුන්වහන්සේගේ භාෂිතය සතුටින් පිළිගත්හ.

**සතිපට්ඨාන සූත්‍රය දසවැනි යි.**

**මූලපරියායවර්ගය පළමුවැනි යි.**